යූරි අවෙරින්කොව්



# ඔර කාගෙද?

යූරි අවෙරින්කොව්

# ඔර් කාගේද?



"මෙන්න මම බිත්තරය බිඳගෙන එළියට ආවා" කුකුළු පැටියා බිත්තරයෙන් එළියට ඔලුව දමාගෙන වටපිට බැලුවා. "මොකද මෙතරම් එළිය වැටිලා තියෙන්නෙ?" ඌ ඇසුවා. කුකුළු පැටියා වට පිට බලා උඩ බැලුවා. ඉරු රැස් හන්දා ඇස් පියාගන්ට ඌට සිදු වුණා. "මම දැන් දන්නවා! ඉර තමා මෙහෙම එළිය දෙන්නේ. ඉරත් මම වගේම කහ පාටයි. වෙනස බිම ඉන්නවා. ඉර උඩ ඉන්නවා. නුඹ මට ඉස්සෙල්ලා බිත්තරය බිඳගෙන ඉහළට නැග්ගා ද?" කුකුළු පැටියා ඉර දිහා බලා ඇසුවා.

ඉර, කුකුළු පැටියාට උත්තර නොදී හිනා වුණා. එතකොට ඉර අව්ව තවත් වැඩි වුණා.



කුකුළු පැටියා බිත්තරයෙන් එළියට විත් පුංචි කකුල්වලින් තණ
බිස්සට දිව ගියා.

තරමක් ඈත දුඹුරු පාට පුංචි ලී ගෙයක් තියෙනවා උ
දැක්කා. ගේ ඇතුළෙ කවුදෝ හුස්ම ගන්නවා. කුකුළු පැටියා
ගෙට හොටෙන් තට්ටු කළා.

"මේ ගෙදර ඉන්නෙ කවුද?"

කිසිවෙක් උත්තර දුන්නේ නැහැ.

ගෙයි ඇතුළෙ කවුදෝ කතා කරනවා වගේ ඇහුණා. ඊට පස්සෙ
ගේ ඇතුළෙ සිට ලොකු ඔලුවක් එළියට දැමූ සතෙක් කතා කළා.

"නුඹ කවුද?" කුකුළු පැටියා ඇසුවා.

ලොකු ඔලුවක් ඇති සතා නිදිමතෙන් වගේ කතා කළා.

"මේ ගෙයි අයිතිකාරයා මම තමයි"

කුකුළු පැටියා පුදුම වුණා.

"අයිතිකාරයා? ගෙදර?"

"ඔව්" බලු පැටියා කිව්වා.

බලු කූඩුව අයිතිකාර බලු පැටියා දිහා බලා කුකුළු පැටියා
මෙහෙව කිව්වා.

"එන්න මා සමග සෙල්ලම් කරන්න"

"නුඹ ළඟ මොනව හරි තියෙනව ද?" බලු පැටියා ඇසුවා.

"නැහැ" කුකුළු පැටියා කනගාටුවෙන් කිව්වා.

"අපොයි, එහෙනම් නුඹ එක්ක සෙල්ලම් කරන්න මට බැහැ"
බලු පැටියා කීවා.



"බැරි මොකද? බැරි මොකද? මේ බලන්න මට හොඳට උඩ පනින්න පුළුවනි" කියලා කුකුළු පැටියා කීවා. ඌ දෙතුන් වරක් උඩ පැන්නා.

බලු පැටියා ඈනුමක් ඇරලා බලු කූඩුවට රිංගුවා.

කුකුළු පැටියාට මතක් වුණා:

"ඔන්න බලන්න, මගෙ ළඟ තියෙන සෙල්ලම් බඩුව!" කුකුළු පැටියා බිත්තර කටුව පෙන්නුවා.

බලු පැටියා අකැමැත්තෙන් කූඩුවෙන් එළියට ආවා.

"හරි සෙල්ලම් බඩුවක් තමයි! නුඹේ බිත්තර කටුව මම එක පහරින් පොඩි කර දමනවා! එක පහරයි! දැක්ක ද?" බලු පැටියා පා පහරක් ගහලා බිත්තර කටුව පොඩි කළා.

කුකුළු පැටියාට හොඳට ම දුක හිතුණා.

"මා ළඟ... මා ළඟ..."



වටේට ම බොහෝ දේ තිබුණා. නිල් පාට පිට්ටනි. ලස්සන සමනලයෝ. වතුර වළවල්. ඒ වතුර වළවල්වලට ඉරු එළිය වැටී තිබෙනවා.

"මගේ ළඟ තවත් සෙල්ලම් බඩුවක් තියෙනවා" කුකුළු පැටියා ඉර පෙන්නලා කීවා.

බලු පැටියා හිනා වුණා.

"හා! හා! ඉර! ඉර කාටවත් අයිති නැහැ!"

"අයිති නැති ද?"

"නැහැ"

"බලු කූඩුව කාගෙ ද?"

"මගේ!"





"නුඹගෙ ද?"

"මගේ!"

"ඉර කාගෙ ද?"

"කාගෙවත් නොවේ!"

"කාගෙවත් නොවේ නම්.... ඉර කාටවත් අයිති නැතිනම්, මම අරගන්නම්" කුකුළු පැටියා මෙහෙම කියලා ඉරු රැස් වැටී තියෙන වතුර වළක් ළඟට ගියා.

"නැවතියන්, කුකුළු පැටියා!" බලු පැටියා කෑ ගැසුවා. "මම නුඹට මගේ කූඩුවෙන් බාගයක් දෙන්නම්. නුඹ ඉර අරගන්ට එපා. හොඳ ද?"

"නුඹේ බලු කූඩුවෙන් බාගයක් මට මොකට ද? මට එයින් ඇති ප්‍රයෝජනය කුමක් ද?" කුකුළු පැටියා ඇහුවා.

"ප්‍රයෝජනය කුමක් ද? මෙන්න මේකයි. කූඩුවෙන් බාගයක් නුඹේ. නුඹ මම වගේ ම අයිති කාරයෙක්!"

"හොඳයි" කුකුළු පැටියා කැමති වුණා.

බලු පැටියා කියතක් හොයාගෙන ඇවිත් කූඩුව දෙකට කැපුවා. ලී කුඩුවලින් පුසුඹක් පැතිර ගියා. කූඩුව දෙකට වෙන් වුණා. ලී කුඩු මැද වාඩි වුණු බලු පැටියා බොහොම සතුටු වුණා. උගේ දිවේත් ලී කුඩු ටිකක් තිබුණා.



කුකුළු පැටියා ඇවිත් බල්ලාගේ දිවට කටින් පිම්බා. ලී කුඩු සුළඟට වීසි වෙලා දෙදෙනාටම කිඹුහුන් ගියා.

"ඔන්න කූඩුව දෙකට කැපුවා. දෙදෙනාටම ඉන්න පුළුවනි" බලු පැටියා කීවා.

බලු පැටියාට අයිති කෑල්ලෙ බලු පැටියාත්, කුකුළු පැටියාට අයිති කෑල්ලෙ කුකුළු පැටියාත් හිටියා. බලු පැටියා ඔලුව හොලවලා බොහොම සතුටින් මෙහෙම කීවා.

"අපි හොඳ වැඩක් කළා නෙව ද?"

"ඔව්" කුකුළු පැටියා උත්තර දුන්නා. ඌට හීතල දැනුණු හන්දා ඌ කූඩුවේ මුල්ලකට වෙලා උණුහුම් වෙන්න පටන් ගත්තා. එහෙත් ඌට කොහොමටවත් උණුහුම් වෙන්න බැහැ.

ඉර වළාකුළකට මුවා වෙලා නොපෙනී ගියා. හැම දෙයක් ම කළු ගැහිලා අවලස්සන වුණා. සීත සුළං හමා ගියා. වැස්සක් වහින්න පටන් ගත්තා.



"කුකුළු පැටියෝ!" බලු පැටියා කතා කළා

"මොකද?" කුකුළු පැටියා හීන් හඬින් ඇහුවා.

"නුඹ වරෙන් මගේ ගෙදරට, මම එන්නම් නුඹේ ගෙදරට"

"ඉස්සෙල්ලා කවුද එන්නෙ?"

"කුකුළු පැටියා මගේ ගෙදරට එන්න"

"හොඳයි"

කුකුළු පැටියා බලු පැටියා ළඟට ගියා. බලු පැටියා ළඟත් සීතලයි. උණුහුම් වෙන්ට බැහැ. බලු පැටියා ළඟට තුරුළු වුණු කුකුළු පැටියා කළු පාට වතුරු වළ දිහා බැලුවා. බලු පැටියාට හොඳටම සීතල නිසා උඉ ඉක්කා ගහන්න පටන් ගත්තා.

"නුඹ දන්නවද, මට හොඳ වැඩක් කල්පනා වුණා" කුකුළු පැටියා කීවා.

"මොකක්ද?"

"අපි දෙදෙනාම ආයෙමත් මේ කූඩුව එකට එක් කරමු. අපි දෙදෙනාම එකම කූඩුවේ වාසය කරමු. කුකුළු පැටියයි බලු පැටියයි යාළු වෙලා ඉඳිමු."



දෙදෙනාම බොහොම සතුටු වෙලා හිනා වෙන්න පටන් ගත්තා.

වළාකුළ පා වෙලා ගියාට පස්සෙ ඉර බිම බැලුවා. පුංචි බලු කූඩුවේ ඉඳගෙන බලු පැටියයි, කුකුළු පැටියයි බලන සැටි ඉර දැක්කා. ඉර වටේට පායලා බටහිරින් බැහැල ගියා.

"අනේ බලන්න! ඉර බැහැල ගියා!" කුකුළු පැටියා කනගාටු වුණා.

"අද ඉර බැහැල ගියාට හෙට ආයෙමත් පායාවි. ඔව්. ඉර හැමදාම පායනවා. දැන් ඉර අපි දෙදෙනාටම අයිතියි" කියලා බලු පැටියා කීවා.

දෙදෙනාම බොහොම සතුටු වුණා.



යූරි අවේරින්කොව්

# ඔර කාගෙද?





**Kanol Publishing House**
1196/4, Kottawa Road, Pannipitiya
Tel: 011 4336778, 011 4336779

ISBN 978-955-1979-25-6

Rs. 125/-
9789551979256